# 2560 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2015 (2016)

## (01) ථෙරවාදි බුද්ධ ධර්මයේ මූලික ඉගැන්වීම්

S 1

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

2. (i) දුක්ඛ නිරෝධ ගාමිනී පටිපදාවට අයත් අංග නම් කර, ත්‍රිවිධ සම්‍යක් සංකල්පනාවන් දක්වන්න. (ලකුණු 04 යි)

   (ii) මහාචත්තාරීසක සූත්‍රයට අනුව සම්මා දිට්ඨිය දෙවැදෑරුම් වෙයි. එම ප්‍රභේද ලියා, ඒවා කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 06 යි)

   (iii) ආර්ය අෂ්ටාංගික මාර්ගයට අනුකූලව ලෞකික ජීවිතයේ දියුණුව ද සලසා ගත හැකි ආකාරය පහදා දෙන්න. (ලකුණු 08 යි)

3. (i) භූත රූප දක්වා, ඒවායින් දෙකක ස්වභාවය පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)

   (ii) ඛන්ධ, ආයතන, ධාතු යන මේවාට අයත් සංඛ්‍යාවන් දක්වා මෙම බෙදීමෙන් ප්‍රතික්ෂිප්ත දෘෂ්ටිවාදය කුමක් දැයි ලියන්න. (ලකුණු 06 යි)

   (iii) එම බෙදීම මගින් සත්ත්වයා, පුද්ගලයා ආදි ව්‍යවහාරයන්හි පරමාර්ථික පැවැත්මක් නොමැති බව බුදුදහම සනාථ කරයි. පහදන්න. (ලකුණු 08 යි)

4. (i) භාරතීය කර්ම සංකල්පයේ විකාශිත අවස්ථා හතරක් ඉදිරිපත් කරන්න. (ලකුණු 04 යි)

   (ii) නියාම ධර්ම නම් කර, භෞතික හා ජීව විද්‍යාත්මක වශයෙන් ගත හැකි නියාම ධර්ම දක්වන්න. (ලකුණු 06 යි)

   (iii) "චේතනාවට මුල් තැන දී කර්මය විවරණය කිරීම බෞද්ධ කර්ම විභාගයේ විශේෂම ලක්ෂණය වේ." හේතු දක්වන්න. (ලකුණු 08 යි)

5. (i) පුඤ්ඤ, සමචරියා, අරිය, කල්‍යාණ මේ වචන සඳහා විරුද්ධාර්ථ පද දක්වන්න. (ලකුණු 04 යි)

   (ii) කුසල මූල හා අකුසල මූල නම් කරන්න. (ලකුණු 06 යි)

   (iii) කුසල් උපදවා ගැනීමේදී සම්මා දිට්ඨියේ ඇති වැදගත්කම පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

6. (i) සතර සම්‍යක් ප්‍රධාන ධර්ම නම් කරන්න. (ලකුණු 04 යි)

   (ii) එම ධර්ම ආර්යාෂ්ටාංගික මාර්ගයේ දී හඳුන්වා ඇත්තේ කවර නමකින් දැයි පෙන්වා, ඒවා ප්‍රහීණ කිරීමට හා උපදවා ගැනීමට ගන්නා ක්‍රමවේද පාලියෙන් හෝ සිංහලයෙන් ලියන්න. (ලකුණු 06 යි)

   (iii) විමුක්ති (නිවන්) මාර්ගයේ දී බාධාවන් ජයගෙන ඉදිරියට යාමට මේ ධර්ම වැදගත් වන ආකාරය පහදන්න. (ලකුණු 08 යි)

7. (i) විවිධ සූත්‍ර මගින්, විවිධ අරමුණු ඉදිරිපත් කිරීම පටිච්චසමුප්පාද දේශනාවේ වැදගත් ලක්ෂණයකි. එබඳු සූත්‍ර දෙකක් හා ඊට අදාළ අරමුණු දෙකක් දක්වන්න. (ලකුණු 04 යි)

   (ii) ද්වාදසාංග පටිච්චසමුප්පාදය නම් කරන්න. (ලකුණු 06 යි)

   (iii) 'බුදුදහමෙහි මූලික ඉගැන්වීම් අතර පටිච්චසමුප්පාදයට හිමි වන්නේ මහා පිළිගැනීමකි.' හේතු දක්වන්න. (ලකුණු 08 යි)

8. (i) 'නිර්වාණය' අර්ථවත් කිරීම සඳහා භාවිත වචන හතරක් දක්වන්න. (ලකුණු 04 යි)

   (ii) නිර්වාණාවබෝධයේ අවස්ථා ගෙන හැර දක්වා එකී අවස්ථා හඳුන්වා දෙන්න. (ලකුණු 06 යි)

   (iii) එම නිවන සාක්ෂාත් කර ගැනීම සඳහා අනුගමනය කළයුතු ක්‍රියා පිළිවෙත හඳුන්වා දෙන්න. (ලකුණු 08 යි)

* * *